ලෙව් තොල්ස්තෝයි

# හෝඩි පොතේ කතා



චිත්‍ර

**ඒ. පහෝමොෆ් සහ වී. කුර්දොෆ්**

පරිවර්තනය

**රන්ජන දේවමිත්‍ර සේනාසිංහ**



## දෙමාපියන්ට...

''සෑම කෙනකුටම දක්ෂතා ඇත: සොබාදහම අයකුට සංගීත ශ්‍රවණයට ඇති හැකියාව දායාද කොට තිබෙන අතරවාරයේ අයකුට විද්‍යාවන් ඉගැනීමට ඇති නැමියාව දායාද කොට ඇත. තුන්වැන්නාට ශිල්පීය දැත් ලබා දෙන අතරවාරයේ සිව්වැන්නාට චිත්‍රකාරයකුගේ දෑස් හිමි කර දී තිබේ. තවත් අයකුට දායාද කොට තිබෙනුයේ ස්වාර්ථයෙන් තොරව මිනිසුන්ට සේවය කිරීමට සූදානම් දයාර්ද හදවතක් පමණි.''

\- ලෙෆ් තොල්ස්තෝයි

1859 ශරත් සමයේදී ලෙෆ් නිකලායෙවිච් තොල්ස්තෝයි ඔහුට අයත්ව තිබූ 'යාස්නයා පල්යානා' නම් මහා නින්දගමෙහි ගොවියන්ගේ දරුවන් උදෙසා පාසලක් ඇරඹීය. එම පාසල නොමිලයේ පවත්වනු ලබන බවත් එහි දරුවනට කායික දඬුවම් නොදෙනු ලබන බවත් මේ තෙමේ ප්‍රකාශයට පත් කෙළේය. තොල්ස්තෝයිගේ පාසලට පැමිණි දරුවෝ කියැවීමටත් ලිවීමටත් ගණන් කිරීමටත් උගත්හ. රුසියාවේ ඉතිහාසය, ස්වභාවික විද්‍යා දැනුම, චිත්‍ර ඇඳීම හා ගායනය පිළිබඳ පාඩම්ද ඔවුන් උගත යුතු විය. එම පාසලෙහි තිබූ වැදගත්ම දෙය වන්නේ ඉගෙනීම කෙරෙහි ළමයින් තුළ බියක් ඇති නොකිරීමයි. එහි උගත් සිසුවෝ නිදහසත් සතුටත් භුක්තිවින්දහ.

තොල්ස්තෝයිගේ පාසලේ සිසුවන් වාඩි වූයේ තම සිතැඟි පරිදිය. කෙනකු බංකුවේ වාඩි වූ අතර අයෙක් මේසයේද තවෙකෙක් ජනෙල් පඩියේද බිමද වාඩි වූහ. ඔවුහු ගුරුවරයාගෙන් තම සිතට නැඟෙනා සෑම දෙයක් ගැනම විමසූහ, ඔහු හා කතාබහ කළහ. ඔවුහු එකිනෙකා සමඟද කතා කළහ, එකිනෙකාගේ පොත්පත්වලට එබී බැලූහ. එයාකාරයෙන් පාඩම පොදු සාකච්ඡාවක් බවට පෙරළිණි, නිතර පාඩම ක්‍රීඩාවකට පවා හැරවිණි.

තොල්ස්තෝයි මෙම පාසලෙහි දරුවන්ට ගෙදරදී නිම කර ගෙන එනු පිණිස වැඩ නොපැවරුවේය. ඉඩකඩ හිඟ ගොවිගෙවල්වල පාසැලෙන් පවරන ගෙදර වැඩ කිරීමට තරම් ඉඩක් නොමැති බව ඔහු මැනවින් දත්තේය. එසේම දරුවන්ට ඒ සඳහා කාලයක් නොතිබූ බවද ඔහු මනාව දත්තේය. මන්ද යත් ගම්බද ගොවි දරුවන් ගොවිතැන් කටයුතු කිරීමේදී මහත් සේ දෙමාපියන්ට උපකාර කළ හෙයිනි.

පාඩම් වැඩ අතර විවේක කාලයන්හිදී තොල්ස්තෝයි දරුවනට ඔවුන්ගේ සිත් ඇදගන්නා කිසියම් දෙයක් කියාදුන්නේය. නැතිනම් ජිම්නාස්ටික් ව්‍යායාම කරන අයුරු පෙන්වා දුන්නේය. දරුවන් සමඟ ගහගත්තේය. තරගයට දිව්වේය. සෙල්ලම් කෙළේය. ශීත කාලයේදී හිම යානාවන්හි නැඟී කඳුවලින් පහළට ලිස්සා ආවේය. ගිම්හාන සමයේදී දරුවන් සමඟ කැලේ ඇවිදින්නට ගියේය. ගඟේ නාන්නට ගියේය. ගී ගැයීය.

පාසලේ පාඩම් වැඩ කෙරීගෙන යන විට, දරුවන් උදෙසා ලියැවුණු පොතපත හිඟ බව තොල්ස්තෝයිට වැටහී ගියේය. එනිසා 'හෝඩි පොතක්' ලිවීමට තොල්ස්තෝයි තීරණය කෙළේය. 1872 නොවැම්බර් 13 වැනි දා එම පොත එළි දැක්කේය. ඉන් වසර තුනකට ඉක්බිති 'අලුත් හෝඩි පොත' පිටවූ අතර ඊට කලකට පසු 'රුසියානු කියැවීම් පොතේ' වෙළුම් හතර පළ විය. ළමයින් උදෙසා විවිධ ශෛලියෙන් ලියැවුණු නිර්මාණ 629ක් තොල්ස්තෝයිගේ පෑනෙන් පහළ වී තිබේ. එයින් 133ක් ස්වාභාවික විද්‍යා විෂයයනට අදාළ ඒවාය. රුසියානු, ඉන්දියානු, අරාබි, පර්සියානු, තුර්කි, ජර්මානු ආදී කතාද තොල්ස්තෝයි සිය ළමා කතා අතරට එක් කෙළේය.

''පාසලට ඇතුළුවන කල, දීප්තිමත් ඇස් හා බොහෝ විට සුරදූතයින්ගේ වැනි මුහුණුවර ඇති, එහෙත් ඉරී ගිය ඇඳුමෙන් සැරසුණු, අපිරිසිදු, කෙසඟ දරු කැළ දකිනා විට මට ඇතිවනුයේ දියේ ගිලෙන්නා වූ මිනිසුන් කැළක් දකින විට ඇතිවන තැති ගැන්මකි, සංත්‍රාසයකි. දරුවන්ට ඉගැන්විය යුත්තේ ඔවුන් පිහිනන්නාවූ නූගත්කම නමැති සාගරයේ නොගිලී බේරෙනු වස් ලැලි කැල්ලක් සපයනු පිණිස''යැයි තොල්ස්තෝයි ප්‍රකාශ කෙළේය. ඉගැන්වීම තොල්ස්තෝයි සැලකුවේ ජනතාව අබිමුව ඇති තම වගකීමක් ඉටුකිරීමක් ලෙසය.

හෝඩි පොත් දෙක ලිවීමට මේ තෙමේ අවුරුදු 17ක් කැප කළ බව පළවේ. මේ ලේඛකයාගේ මෙන්ම ලෝක සාහිත්‍යයේත් මුදුන්මල්කඩක් සේ ගැණෙන 'යුද්ධය හා සාමය' කෘතියට වඩා 'හෝඩි පොත' මෙතෙමේ උසස් කොට සැලකීය. එහෙත් වත්මන් විචාරකයින් සඳහන් කොට සිටිනුයේ හෝඩි පොතට උරුම සැබෑ ස්ථානය පවතිනුයේ 'යුද්ධයට හා සාමයට' ඉහළින් නොව ඒ හා ළඟින් සම මට්ටමේ බවය. සාමාන්‍ය ජන වහර හා බස භාවිතයට ගත් හෙයින් හා කුමන අරමුණක් උදෙසා තොල්ස්තෝයි එහි සමහර කතා ලීවේද යන්න නොදත් විචාරකයෝ ඒ කාලයේදීම ලේඛකයා විවේචනය කළහ. කෙසේ නමුත් තොල්ස්තෝයි සඳහන් කර සිටියේ ''හෝඩි පොත ගැන මාගේ සාඩම්බරකාර බලාපොරොත්තුව වන්නේ රාජ කුමාරයාගේ සිට ගොවි දරුවා දක්වා වන සියලුම රුසියානු දරුවන් පරපුරු දෙකකට වඩා මේ හෝඩි පොතෙන් ඉගෙන නොගනු ඇති බවත් ඔවුන් තමන්ගේ මුල්ම කවිකාර හැඟුම් එයින් ලැබ ගනු ඇති බවත් මෙම හෝඩි පොත ලියා තබා මට සැනසිල්ලේ මිය යා හැකි බවත්ය.'' එහෙත් හෝඩි පොත මුලින්ම මුද්‍රණයෙන් පිටවී අවුරුදු 140ක් සපිරී ඇති අදත්, තොල්ස්තෝයිගේ එකී බලාපොරොත්තු බිඳලමින්, ඔහුගේ ඉගැන්වුම් ක්‍රමවේද හා 'හෝඩි පොත' වත්මන් රුසියාවේ නැවත අත්හදා බැලීමට පාත්‍ර වන අතර ලෝකය පුරා භාෂා මහත් රාශියකින් දරු පරපුරු ගණනාවක් අද දක්වාම 'හෝඩි පොතෙන්' උගනිති.

අන්ද්‍රේයි බියෙලි නමැති සාහිත්‍යධරයා තොල්ස්තෝයිගේ කලාව සුපිරිසිදු, සුපැහැදිලි දිය ඇති, එහෙත් ගැඹුරු හෙයින් පතුලක් නොදැකිය හැකි ළිඳකට සම කෙළේය. එම කියමන 'හෝඩි පොත' සම්බන්ධයෙන් අන් කොතැනටත් වඩා ගැළපෙන බව විචාරකයෝ කියති.





අත්තම්මා කෙනකුයි මිනිබිරියකුයි සිටියා. මිනිබිරිය හරිම පුංචියි. වැඩේම නිදාගන්න එක. අත්තම්මා තනියෙම රොටි පිච්චුවා, පැළ අතු ගෑවා, රෙදි සේදුවා, ඇඳුම් මැහුවා, ගෙතුවා, රෙදි වියුවා, ඒ හැම දෙයක්ම කළේ මිනිබිරියට. කාලයක් ගියාම අත්තම්මා වයසට ගියා. හීතලට ලිප්බොක්ක ළඟ ඇඳට වැටුණා. දැන් අත්තම්මගෙ වැඩේම නිදාගන්න එක. එතකොට මිනිබිරිය රොටි පිච්චුවා, රෙදි සේදුවා, ඇඳුම් මැහුවා, ගෙතුවා, රෙදි වියුවා. ඒ හැම දෙයක්ම කළේ අත්තම්මට.



තණපිට්යේ ලී පතුරුයි කොට කෑලියි විසි කර දමා තිබුණා. ළමයි ඒවා අරගෙන ගෙයක් හැදුවා. මුලින්ම හැදුවෙ බිත්ති, පස්සෙ වහලෙ. වහලෙ උඩින් දුම් කවුළුවකුත් හැදුවා. දොර තිබුණේ පැත්තකට වෙන්න. ගේ පොඩි නෑ. ඒ වුණාත් දොරෙන් ඇතුළට යන්න බෝනික්කට ඉඩ මදි. ළමයි වහලේ ගලවලා බෝනික්කව උඩින් ගෙට දාලා වාඩි කෙරෙව්වා.



නැන්දා කෙනෙක් වතුර කදක් ගෙන ගියා. ඒකෙ බාල්දි තිබුණෙ හිල් වෙලා. වතුර කද අරගෙන යන්න යන්න කදේ බර අඩු වෙලා බාල්දි ගෙන යන්න ලේසි වුණු හින්දා නැන්දා සතුටු වුණා. ඒත් කද බිමින් තියලා වතුර ගන්න බාල්දිය දිහා බැලුවම ඒකෙ වතුර ඉතුරු වෙලා තිබුණේ නෑ.



නාස්ත්‍යා ඉස්කෝලේ ගිහින් ආවා. ගෙදර හිටියේ අම්මා විතරයි. නාස්ත්‍යා මේසය ළඟ බංකුවේ වාඩිවෙලා පොතක් අරගෙන කතාවක් කියෙව්වා. අම්මා හරියට සතුටු වුණා.



කුරුල්ලෙක් පඳුරක කූඩුවක් තනාගෙන තිබුණා. ළමයි කූඩුව දැකලා ඒක ගලවලා බිමට ගත්තා.

''බලන්නකෝ, යස කුරුලු පැටවු තුන් දෙනෙක්''

උදේ ළමයි ආපහු ඇවිත් බලනකොට කූඩුවේ එක කුරුලු පැටියෙක්වත් නෑ. ළමයින්ට හරියට දුක හිතුනා.



නාස්ත්‍යාට බෝනික්කෙක් හිටියා. නාස්ත්‍යා බෝනික්කාට කීවේ 'දුවේ' කියලා. බෝනික්කාට ඕනෑ හැම දෙයක්ම අම්මා නාස්ත්‍යාට දුන්නා. සායා, ගවොම්, හැට්ට විතරක් නොවෙයි, පනා, මාල, වළලු එහෙමත් බෝනික්කාට තිබුණා.



කාත්‍යා උදේම හතු එකතු කරන්න කැලේට ගියා. ඒ යනකොට මාෂාවත් එක්කගෙන ගියා.

මාෂා හරිම පුංචියි.

කැලේට යන පාරේ දොළක් තිබුණා. කාත්‍යා මාෂාව වඩාගෙන පිටේ තියා ගත්තා. සාය උස් කරලා හිර කරගෙන දොළ හරහා ගියා.

''මාෂා, ඔයා හයියෙන් අල්ලා ගන්න. හැබැයි මගේ බෙල්ල හිර කරන්න හෙම එපා. අත් පහළට දාගන්නකො. නැත්නම් මට හුස්ම ගන්න බැරි වෙයි.



ශීත කාලෙ වුණත් එදා ඒ තරම් තද හීතලක් තිබුණේ නෑ. ඒත් මදි නොවෙන්න හිම. ළමයි හිමෙන් වැහුණු විල ළඟට ගියා. හිම බබෙක් හැදුවා. ළමයින්ගේ අත් හීතල වුණා. ඒත් හිම බබා ලස්සනට හැදුණා. හිම බබාගේ කටේ දුම් පයිප්පයක්. ඇස් දෙකට අඟුරු කෑලි දෙකක්.



වහලේ උඩ නිදාගෙන හිටි පූසා කකුල් ලෙව කෑවා. කුරුල්ලෙක් ඒ පූසා ළඟට පියාඹලා ගිහින් වැහුවා. ''කුරුලු පැංචෝ, පූසා ළඟට වෙලා ඉන්නේ බලාගෙන. පූසෝ හරිම කපටියෝ.''



ළමයි දැක්කා පුංචි ඉත්තෑ පැටියෙක් තණ පඳුරු අස්සේ ඉන්නවා.

''වාසයා, ඌව අල්ලා ගනින්''

''මගේ අතේ කූරු ඇනේවි''

''ඔය තොප්පිය බිමට දාපන්. මං ඌව තොප්පිය ඇතුළට පන්නනන්නම්.''

ඒත් ඉත්තෑ පැටියට රිංගන්න තරම් තොප්පිය ලොකු නෑ. ඌව අතහැර දාලා ළමයි ගෙදර ගියා.

තාන්‍යා හෝඩි පොත කියවන්න දැනගෙන හිටියා. එයා හෝඩි පොතයි බෝනික්කයි අරගෙන, හෝඩි පොත බෝනික්කට දුන්නා. හරියට ඉස්කෝලෙදි වගේ.

"බෝනික්කෝ, දැන් අකුරු ඉගෙන ගන්න වෙලාව. මේ 'අ' යන්න, මේ 'ආ' යන්න. හොඳට බලලා මතක තියා ගන්න ඕනැ, තේරුණාද ?"





මා මාට හිටියා රෝස්කා කියලා බැල්ලියක්. ඒකි හරිම නුවණක්කාරයි.

''මාමේ, රෝස්කාට තොප්පිය ගන්නයි කියන්නකො''

''රෝස්කා, බලාපන්, වාස්යා ඔලුවෙ තොප්පියක් දාගෙනයි ඉන්නෙ''

රෝස්කා වාස්යාගේ උරහිසට පය තියලා තොප්පිය ඇරගෙන පෙන්නුවා.



ගේ පිලිකන්නේ මඩුවේ පිදුරු ගොඩේ තමයි රෝස්කාගේ පැටව් ටික හිටියේ. රෝස්කා ඈතකට යනකම් ඉඳලා ළමයි මඩුවට ගිහින් පැටියෙක් උස්සගෙන ඇවිත් උණුහුමට ලිප්බොක්කෙන් තිබ්බා.

ආපසු මඩුවට ආවම රෝස්කාට පැටියකු නැති බව තේරුණා. ඊකී විලාප දෙන්න පටන් ගත්තා.

පස්සේ ඊකී පැටියා ඉන්න තැන සොයා ගත්තා. එතකොට ලිප ළඟට වෙලා විලාප දුන්නා. ළමයි පැටියව ලිප් බොක්කෙන් ඇරගෙන රෝස්කාට දුන්නා. පස්සේ රෝස්කා කටින් පැටියව උස්සගෙන ආපසු මඩුවට ඇරගෙන ගියා.



මීෂා කැලේ ඇවිදිමින් හතු එකතු කළා. ඕක් ගසක් පාමුල ලොකු හත්තක් තිබුණා. ඒ හත්ත පරණ වෙලා. කවුරුවත් එය කඩා ගත්තේ නෑ. ඒත් මීෂාට ඒක දැකලා ලොකු සතුටක් ඇති වුණා. ඔහු ඒ හත්ත කඩාගෙන ගෙදර ඇරගෙන ගියා.

''මෙන්න මම ඔය කොයිකටත් වඩා හොඳ හත්තක් ගෙනාවා''

ඒත් ඒ හත්ත නරක්වෙලයි තිබුණෙ. කවුරුවත් ඒක කෑමට ගත්තේ නෑ.



සාෂා හරිම බයගුල්ලෙක්. දවසක් අකුණු ගසමින් වැස්සා. සාෂා ඇඳුම් අල්මාරියට රිංගුවා. ඒක ඇතුළෙ අඳුරුයි, හුස්ම ගන්නත් අපහසුයි.

වැස්ස නතර වූ බවක් සාෂාට ඇහුණේ නැහැ.

''සාෂා, උඹ බයගුල්ලෙක් නිසා ඔහොම දිගටම අල්මාරිය ඇතුළටම වෙලා හිටපන්.''

පේත්‍යාටයි මීෂාටයි සෙල්ලම් අස්සයෙක් හිටියා. මේ දෙන්නා අතරෙ වාදයක් ඇති වුණා, අස්සයා අයිති කාටද කියලා. අස්සයා උදුරා ගන්න දෙන්නාම අස්සයාව දෙපැත්තට ඇදගත්තා.

''මගේ අස්සයා මට දීපන්''

''නෑ මට දීපන්, මේ අස්සයා උඹේ නොවෙයි, මගෙයි.''

එතැනට ආපු අම්මා අස්සයාව අරගත්තා. දැන් අස්සයා දෙන්නාගෙන් කාටවත් අයිති නෑ.





සීයා තේ බොන්න වාඩිවුණා.

''සීයේ, මටත් තේ එකක් දෙන්නකෝ'' මුණුබුරා කිව්වා.

''මගෙ පුතාට මෙන්න තේ. ඇති වෙනකම් බොන්න, කම්මැලිකම් දුරලන්න.''



වාර්යාට හිටියා සැළලිහිණියෙක්. සැළලිහිණියා ජීවත් වුණේ කූඩුවක. ඌ කවදාවත් ගී ගැයුවේ නැහැ. වාර්යා සැළලිහිණියා ළඟට ආවා.

''සැළලිහිණියෝ, දැන් නම් උඹට ගී ගයන්න කලවයස හරි.''

''මාව කූඩුවෙන් එළියට දාලා නිදහස් කරන්න. එතකොට මං මුළු දවසම සින්දු කියන්නම්.''



බල්ලාත් බළලාත් අතර දබරයක් ඇති වුණා. බළලා කෑම කන්න පටන් ගත්තා. බල්ලා එතැනට ආවා. බළලා අතින් බල්ලාගේ නහයට ගැහුවා. බල්ලා බළලාගේ වලිගය හැපුවා. බළලා බල්ලාගේ ඇස් පහුරුගෑවා. බල්ලා බළලාගේ බෙල්ල සපා කෑවා. ඒ අසලින් නැන්දා වතුර බාල්දියකුත් ඇරගෙන ගියා. බළලාගේත් බල්ලාගේත් ඇඟට ඈ වතුර වත්කළා.



ළමයින්ට ඒ අයම වගා කළ එළවළු කොරටුවක් තිබුණා. දවසක් දා ඒ කොරටුවට ඌරෝ රංචුවක් කඩාවැදුණා.

''ළමයිනේ, හනිකට බල්ලාව ලිහාදාපල්ලා. බල්ලෝ, මේ ඌරන්ට බුරලා විගහින් උන් කොරටුවෙන් එළවා දමාපන්.''





ගෲෂාට බෝනික්කෙක් හිටියේ නැහැ. ඈ පිදුරු ටිකක් අරගෙන වෙලලා දිගැටි රූපයක් හදා ගත්තා. ඇගේ බෝනික්කා වුණේ ඒ පිදුරු මිට. ඈ බෝනික්කාට මාෂායි කියලා නම් තිබ්බා. ඒ මාෂාව ඈ දෑතට ගෙන වඩාගත්තා.

"නිදාගනින් මාෂා, නිදාගනින් චූටි දුවේ, දොයි, දොයි, දොයි, දොයි, බයි, බයි, බයි, බයි"



අන්ධයෙක් ගෙදර යමින් හිටියා. රෑ බෝ වෙලා තිබුණා. මේ අන්ධයා ගියේ ලන්තෑරුමකුත් අරගෙනයි.

"මොන තරම් මෝඩ අන්ධයෙක්ද, ලන්තෑරුමක් පත්තු කරගෙන යනවා. තමුන්ගෙ ඇස් පේන්නේ නැතිකොට එළියක් රැගෙන යන්නේ මොන දේකටද ?"

අන්ධයා ලන්තෑරුමක් අරගෙන යන්නේ ඇස් පෙනෙනවුන් ඔහුගේ ඇඟේ හැපී පා පටලවා ඔහුව බිමට ඇද නොදමනු පිණිසයි.

# තේරවිලි

පොළව පලාගෙන යන්නෙකි - දුර ගොස් උඩ මතුවන්නෙකි
රතු තොප්පිය හිස්ලන්නෙකි - තේරුවොතින් ඔබ හපනෙකි



(හත්ත)

කුඩා වුවත් ආඩම්බර - ඉඟටිය ඇත බැඳ තදකර
පොළව මදී කර 'සර-සර' - පිල ද මදී කර 'සර-සර'
වැඩ කොට හෙම්බත් වූ කල - ගිමන් හරී ගෙයි දොර මුල



(ඉලපත)

අතුත් නැතේ පාත් නැතේ - ඒත් කමිසයක් ඇඳිතේ



(කොට්ටය)

තලත් දෙකයි මුදුත් දෙකයි - ඒක මැද්දෙ කඩ ඇණයයි



(කතුර)

හිස නවනවා, හිස නවනවා - ගෙදර ඇවිත් දිග ඇදෙනවා



(පොරව)

ඇඳුම් ඇඳලා සැත්තෑවක් - ගහලා නෑ එක කටුවක්



(ගෝවා ගෙඩිය)

පියාඹා යයි, නද දෙයි - වාඩි වූ කල පොළව හාරයි



(කුරුමිණියා)

හරිම පොඩියි, වටකුරුවයි - වලිගෙන් නම් ගනු බොරුවයි



(නූල් බෝලය)

දත් ගා විකලා දමයි - කුඩු වෙන්නම හප කරයි
තමන්ගෙ බඩටත් නොකයි - අනුන්ට කන්නත් නොදෙයි



(කියත)

කෙනෙක් කියයි 'දුවමු, දුවමු'
තවත් කෙනෙක් - 'ඉඳිමු, ඉඳිමු'
තුන්වැන්නා - 'වැනෙමු, වැනෙමු'
හැකිනම් කවුදැයි තෝරමු



(ගඟ, ඉවුර හා තණ)

## දෙමාපියන්ට...

"සෑම කෙනකුටම දක්ෂතා ඇත. සොබාදහම අයකුට සංගීත ශ්‍රවණයට ඇති හැකියාව දායාද කොට තිබෙන අතරවාරයේ අයකුට විද්‍යාවන් ඉගැනීමට ඇති නැමියාව දායාද කොට ඇත. තුන්වැන්නාට ශිල්පීය දැත් ලබා දෙන අතරවාරයේ සිව්වැන්නාට චිත්‍රකාරයකුගේ දෑස් හිමි කර දී තිබේ. තවත් අයකුට දායාද කොට තිබෙනුයේ ස්වාර්ථයෙන් තොරව මිනිසුන්ට සේවය කිරීමට සූදානම් දයාර්ද හදවතක් පමණි."

ලෙව් තොල්ස්තෝයි



**Kanol Publishing House**
1196/4, Kottawa Road, Pannipitiya
Tel: 011 4336778, 011 4336779

ISBN 978-955-1979-43-0

Rs. 125/-
9 789551 979430